# හිරු කුමරිය කමිසයක් මහයි



ලිතුවේනියානු ජන ගී ඇසුරෙනි

# හිරු කුමරිය කමිසයක් මහයි

ලිතුවේනියානු
ජන ගී
ඇසුරෙනි

කමිස පොඩිත්තක් මහන්ට,
හිරු කුමරිය දුව ආවා.
හඳමාමා උදව් දෙන්ට,
නූල් බෝල ගෙන ආවා.

ගස්වල අතු ඇඹරෙන්නට,
මහ ලොකු සුළඟක් හැමුවා.
පහළ ඉන්න පොඩිත්තන්ට,
කමිස ගොඩක් ගෙන ආවා.





හිරු බැස යයි

හිරු බැසලා රෑ වෙලා.
අහසේ තරු පායලා.
පුංචි අපට නිදියන්නට,
වෙලාව දැන් ළංවෙලා.

උදේ සිටන් වැඩ කරලා,
හොඳටම බඩගිනි හැදිලා.
හොඳ රසඇති පාන්, කේජු,
රෑ කෑමට ගෙනැවිල්ලා.







බැටළු පැටව්

සුදට සුදේ කිරි පාටයි, හෝ-හෝ,
පොඩි ඇස් තරුමෙන් දිලිසෙයි, හෝ-හෝ,
හිස වනමින් කන් සොලවයි, හෝ-හෝ,
පිටිය පුරා පැන පැන යයි, හෝ-හෝ,
ලොමින් වැසුණු ඇඟ සිනිඳුයි, හෝ-හෝ,
ඉර අව්වට හොඳ පැහැයයි, හෝ-හෝ.





## වෘක හාමි

වෘක හාමි කාන්සියට,
ඇවිදින් කැලයෙන් එළියට,
මහ අම්හිරි තාලයකට,
සිංදු කියනවා.

හිවල් හාමි උඩ පැන පැන,
නහුටු කෙටිය බිම ඇන ඇන,
හිවල් පැටව් වට කරගෙන,
රැඟුම් පානවා.

උන්ගේ කෝලම් මදිවට,
මේ තරහෙට ගැළපෙන්නට,
පොල්කිච්චෙක් හරි හරියට,
නාද කරනවා.



අඹ යාළුවෝ

''ටකට — ටකස්'' හඬ නඟමින්,
පාර දිගේ කඩිමුඩියෙන්,
ඌරයි, උගෙ යාළුවනුයි,
ගමනක් යනවා විගසින්.

තාරාවා වීණාව වයනවා,
කුකුළු නාම්බා නළා පිඹිනවා.
පරණ කෝන්තර අමතක කරලා,
කඩියයි, කිටියයි විනෝද වෙනවා.



ШИЛО СОЛНЫШКО РУБАШКУ

Литовские народные песенки

*На сингальском языке*

